115908

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

62 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

පුරවැසි අධ්‍යාපනය I, II
குடியியற் கல்வி I, II
Civic Education I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## පුරවැසි අධ්‍යාපනය I

**උපදෙස්:**

※ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
※ අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
※ **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
※ එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ජනතාව විසින් ඔවුන්ගේ පාලනය සඳහා පවත්වාගෙන යනු ලබන පාලන ක්‍රමය,
(1) පැසිස්ට්වාදයයි. (2) ප්‍රජාතන්ත්‍රවාදයයි.
(3) ධනවාදයයි. (4) සමාජවාදයයි.

**2.** ඡන්ද කොට්ඨාස බෙදා වෙන්කිරීම සඳහා යොදාගනු ලබන ප්‍රධාන නිර්ණායක දෙක කුමක් ද?
(1) භූමිය හා ජනගහනය (2) ජනගහනය හා ජනවර්ගය
(3) භූමිය හා සෞඛ්‍යය (4) ආර්ථිකය හා සංස්කෘතිය

**3.** ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වන පොදු නීතිය කුමක් ද?
(1) ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා නීතිය (2) උඩරට නීතිය
(3) අපරාධ නීතිය (4) රෝම ලන්දේසි නීතිය

**4.** නිෂ්පාදනය කරනු ලබන භාණ්ඩ පාරිභෝගිකයා දක්වා ලබාදීමේ ක්‍රියාවලිය,
(1) පාරිභෝජනයයි. (2) වෙළඳාමයි.
(3) බෙදාහැරීමයි. (4) නිෂ්පාදනයයි.

**5.** ගැටුම් ඇතිවීමට බලපාන ප්‍රධාන මූලයක් වනුයේ,
(1) පරමාර්ථ ඉටු නොවීමයි. (2) අවහිරතා ඇතිවීමයි.
(3) මානසික තත්ත්වයයි. (4) වාර්ගිකත්වයයි.

**6.** ශ්‍රී ලංකාවේ ප්‍රධාන නීති නිලධාරියා වන්නේ,
(1) ඔම්බුඩ්ස්මන්වරයා ය. (2) නීතිපතිවරයා ය.
(3) අධිකරණ ඇමතිවරයා ය. (4) අග විනිසුරුවරයා ය.

**7.** වායු දූෂණය සිදුවන ස්වභාවික ක්‍රමයක් වන්නේ,
(1) කර්මාන්තශාලාවලින් විෂ දුම් පිට කිරීමයි.
(2) රථවාහනවලින් කාබන්ඩයොක්සයිඩ් පිට කිරීමයි.
(3) වනාන්තර විනාශ කිරීම නිසා වායු දූෂණය සිදුවීමයි.
(4) දූවිලි කුණාටු මගින් වායු දූෂණය සිදුවීමයි.

[දෙවැනි පිටුව බලන්න.

**8.** බහු සංස්කෘතික සමාජයක ජනතාව එක්සත්ව ජීවත්වීම මගින්,
(1) අන්‍යෝන්‍ය සුහදත්වය වර්ධනය වේ.
(2) දූෂණය හා වංචාව අවම කරගත හැකි වේ.
(3) මාධ්‍ය නිදහස ආරක්ෂා කරගත හැකි වේ.
(4) දේශපාලන නායකත්වයට ගරු කිරීම සිදු වේ.

**9.** ළමයාගේ උපරිම යහපත සැලසීමට රාජ්‍යයන් විසින් ඉටුකළ යුතු වගකීමක් වන්නේ,
(1) ළමා අපයෝජනයන්ගෙන් ආරක්ෂා කිරීමයි.
(2) සමාජ සුරක්ෂිතතාව ආරක්ෂා කිරීමයි.
(3) මත්ද්‍රව්‍ය භාවිතයෙන් ආරක්ෂා කිරීමයි.
(4) ළමා ශ්‍රමික භාවයෙන් ආරක්ෂා කිරීමයි.

**10.** අන්තර්ජාතික වෙළඳාම සිදුවන ප්‍රධාන ආකාරයක් වන්නේ,
(1) අපනයන වෙළඳාමයි. (2) ආනයන වෙළඳාමයි.
(3) බහුපාර්ශ්වික වෙළඳාමයි. (4) ජාත්‍යන්තර වෙළඳාමයි.

**11.** සමාජය තුළ ජීවත්වන පුද්ගලයින් හා පවතින සමාජ සංවිධාන අභිබවා කටයුතු කිරීමට සමාජයට ඇති හැකියාව හඳුන්වන්නේ,
(1) ප්‍රජාතන්ත්‍රවාදය ලෙසිනි. (2) ව්‍යවස්ථාදායකය ලෙසිනි.
(3) විධායකය ලෙසිනි. (4) බලය ලෙසිනි.

**12.** ද්විපක්ෂ ක්‍රමයක් පවතින රටවල් යුගලය වනුයේ,
(1) මහා බ්‍රිතාන්‍යය සහ ඉන්දියාව ය.
(2) චීනය සහ රුසියාව ය.
(3) මහා බ්‍රිතාන්‍යය සහ ඇමරිකා එක්සත් ජනපදය ය.
(4) ජර්මනිය සහ උතුරු කොරියාව ය.

**13.** එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ආරක්ෂක මණ්ඩලයේ තීරණ ගැනීම සම්බන්ධව නිෂේධ බලය හිමිවන්නේ,
(1) මහා මණ්ඩලයේ සාමාජිකයන්ට ය. (2) එක්සත් ජාතීන්ගේ සාමාජිකයන්ට ය.
(3) භාරකාර මණ්ඩලයේ සාමාජිකයන්ට ය. (4) ස්ථාවර සාමාජිකයන්ට ය.

**14.** ජල දූෂණය යන්න නිවැරදිව දක්වා ඇති ප්‍රකාශය කුමක් ද?
(1) වල්නාශක හා දිලීරනාශක ජලයට මිශ්‍රවීම
(2) ජලයෙහි ස්වභාවික ගුණාත්මකභාවය වෙනස්වීම
(3) අම්ල වැසි මගින් ජලයට විෂද්‍රව්‍ය එකතුවීම
(4) කාර්මික අපද්‍රව්‍ය ජලයට එකතු කිරීම

**15.** දැනුම, ඇදහිලි, කලා, නීති, සිරිත් විරිත්, අගයයන් හා මිනිසා විසින් සමාජයීය පුද්ගලයකු ලෙස ලබාගන්නා පුරුදු, ඇබ්බැහිකම් හා හැකියාවන්ගේ සමස්තය,
(1) යහපුරුදු වේ. (2) සම්ප්‍රදායන් වේ.
(3) සංස්කෘතිය වේ. (4) සමාජ ක්‍රම වේ.

**16.** පොදුරාජ්‍ය මණ්ඩලයේ වර්තමාන නායකයා වන්නේ කවුද?
(1) මහා බ්‍රිතාන්‍යයේ අගමැතිතුමා (2) මහා බ්‍රිතාන්‍යයේ රජතුමා
(3) මහා බ්‍රිතාන්‍යයේ විදේශ ඇමතිතුමා (4) මහා බ්‍රිතාන්‍යයේ කොමසාරිස්තුමා

**17.** ශ්‍රී ලංකා ජනරජයේ පරමාධිපත්‍යයට අයත් අංශ මොනවා ද?
(1) පාලන බලතල, මානව අයිතිවාසිකම් සහ ඡන්ද බලය
(2) පාලන බලතල, මූලික අයිතිවාසිකම් සහ ඡන්ද බලය
(3) පාලන බලතල, වැඩිහිටි අයිතිවාසිකම් සහ ඡන්ද බලය
(4) පාලන බලතල, කාන්තා අයිතිවාසිකම් සහ ඡන්ද බලය

**18.** ගැටුමක් නිර්මාණය වීමට බලපාන මනෝවිද්‍යාත්මක සාධකයක් වන්නේ,
(1) චර්යාවයි. (2) සංදර්භයයි. (3) ආකල්පයි. (4) කුසලතායි.

**19.** පුද්ගල අවශ්‍යතා හා වුවමනා සෘජුව ඉටුකර ගැනීමට දායකවන භාණ්ඩ හඳුන්වන්නේ,
(1) කාර්මික භාණ්ඩ ලෙස ය. (2) පාරිභෝජ්‍ය භාණ්ඩ ලෙස ය.
(3) ප්‍රාග්ධන භාණ්ඩ ලෙස ය. (4) අන්තර් භාණ්ඩ ලෙස ය.

[තුන්වැනි පිටුව බලන්න.

**20.** ශ්‍රී ලංකාවේ මහේස්ත්‍රාත් අධිකරණයක් මගින් විසඳිය හැකි නඩු වනුයේ,
(1) මැතිවරණ සම්බන්ධ නඩු ය. (2) ආදායම් සම්බන්ධ නඩු ය.
(3) විවාහ සම්බන්ධ නඩු ය. (4) ඉඩම් සම්බන්ධ නඩු ය.

**21.** ශ්‍රී ලංකාව තුළ බලය බෙදීමේ අරමුණින් 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට සිදුකරන ලද සංශෝධනය කුමක් ද?
(1) 13 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය
(2) 15 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය
(3) 18 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය
(4) 20 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය

**22.** අනාගත පරම්පරාවේ අවශ්‍යතාවලට බාධා නොවන ආකාරයට වර්තමාන අවශ්‍යතා ඉටුකර ගැනීම,
(1) සමාජයීය සංවර්ධනයයි. (2) සදාචාරාත්මක සංවර්ධනයයි.
(3) තිරසර සංවර්ධනයයි. (4) ආර්ථික සංවර්ධනයයි.

**23.** පහත සඳහන් මානව අයිතිවාසිකම් අතුරෙන් සිවිල් හා දේශපාලන අයිතිවාසිකමක් තෝරන්න.
(1) අධ්‍යාපනය ලැබීමට ඇති අයිතිය (2) පෞද්ගලික දේපළ දැරීමට ඇති අයිතිය
(3) සමාජ ආරක්ෂණයට ඇති අයිතිය (4) නිදහස් මත දැරීමට ඇති අයිතිය

**24.** ගැටුම් නිරාකරණය සඳහා පුරවැසියකු සතු විය යුතු සමාජයීය ගුණාංගයක් වන්නේ,
(1) දරාගැනීමේ ශක්තියයි. (2) අන්මත ගරු කිරීමයි.
(3) සංවේදී බවයි. (4) අවිහිංසාවයි.

**25.** නූතන රාජ්‍යයන්වල බලය බෙදාහැරීමට හේතුවක් වන්නේ,
(1) ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක බලය ක්‍රියාත්මක කිරීමට ය.
(2) පරිපාලන රෙගුලාසි පහසුවෙන් ක්‍රියාත්මක කිරීමට ය.
(3) ආණ්ඩුව සතු විධායක බලය ක්‍රියාත්මක කිරීමට ය.
(4) රාජ්‍යයේ ජාතික ආරක්ෂාව තහවුරු කර ගැනීමට ය.

**26.** ශ්‍රී ලංකාවට 'රාජ්‍ය මන්ත්‍රණ සභා' පාලන ක්‍රමය හඳුන්වා දුන්නේ,
(1) මැකලම් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.
(2) ඩොනමෝර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.
(3) සෝල්බරි ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.
(4) මැනිං ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.

**27.** ගැටුම් සාමකාමීව නිරාකරණය කර ගැනීමේ වාසියක් වන්නේ,
(1) ජය පරාජය විඳදරා ගැනීමට හැකිවීමයි. (2) දරා ගැනීමේ ශක්තිය ඇතිවීමයි.
(3) නිර්මාණාත්මක චින්තනය වර්ධනයවීමයි. (4) සම්පත් හා දේපල හානි වැළකීමයි.

**28.** රාජ්‍යයක් තුළ දක්නට ලැබෙන මූලික ලක්ෂණ නිවැරදිව දක්වා ඇති පිළිතුර තෝරන්න.
(1) භූමිය, ජනගහනය, ආණ්ඩුව සහ ජනාධිපති
(2) භූමිය, ජනගහනය, ආණ්ඩුව සහ ස්වාධිපති බලය
(3) භූමිය, ජනගහනය, නීතිය සහ අධිකාරී බලය
(4) භූමිය, ජනගහනය, අධිකාරී බලය සහ ස්වාධිපති බලය

**29.** ආගම්, කුල, උරුම, සිරිත් විරිත්, අයිතිවාසිකම්, යුතුකම් සහ වගකීම් වැනි අංග ඇතුළත් පරිසර සංරචකය,
(1) ස්වභාවික පරිසරය වේ. (2) සංස්කෘතික පරිසරය වේ.
(3) සමාජ පරිසරය වේ. (4) ආගමික පරිසරය වේ.

**30.** රටක සමාජ සාධාරණත්වය බිඳවැටීමට හේතුවක් වන්නේ,
(1) ආර්ථික හා මානව සම්පත් කළමනාකරණය දුර්වලවීමයි.
(2) දේශපාලන බලය ක්‍රියාත්මක වීම දුර්වලවීමයි.
(3) ජාත්‍යන්තර සම්බන්ධතා පැවැත්වීම දුර්වලවීමයි.
(4) ආගමික හා සංස්කෘතික සම්බන්ධතා දුර්වලවීමයි.

**31.** කම්කරු අයිතිවාසිකම් ආරක්ෂා කිරීම සඳහා ශ්‍රී ලංකාවේ සම්මත කරගෙන ඇති පනතක් වන්නේ මින් කුමක් ද?
(1) නිදහස් අධ්‍යාපන පනත (2) සමාජ ආරක්ෂණ පනත
(3) පුද්ගලයන් ලියාපදිංචි කිරීමේ පනත (4) පඩිපාලක සභා ආඥා පනත

[හතරවැනි පිටුව බලන්න.

115908

**32.** භාණ්ඩ නිෂ්පාදනයේ දී යන්ත්‍ර සූත්‍ර බහුලව භාවිත කරන අවස්ථාව හඳුන්වනුයේ,
(1) ප්‍රාග්ධන සූක්ෂ්ම ලෙසට ය. (2) යන්ත්‍ර සූක්ෂ්ම ලෙසට ය.
(3) ශ්‍රම සූක්ෂ්ම ලෙසට ය. (4) කාර්මික සූක්ෂ්ම ලෙසට ය.

**33.** පුද්ගලයන් තුළ යම් භාණ්ඩයක් හෝ සේවාවක් මිලට ගැනීමට පෙළඹවීම කෙරෙහි වැඩි ම බලපෑමක් සිදුවන සාධකය වන්නේ,
(1) අවශ්‍යතා ය. (2) පරිසරය ය. (3) ප්‍රචාරණය ය. (4) ආදායම ය.

**34.** සමාජයක ජීවත්වන ජනතාව තුළ ඇති විය හැකි අභ්‍යන්තර ගැටුම් ලෙස හඳුන්වන්නේ,
(1) පුද්ගල ගැටුම් හා සමාජ ගැටුම් ය. (2) සාර්ව ගැටුම් හා පුද්ගල ගැටුම් ය.
(3) සමාජ ගැටුම් හා සූක්ෂ්ම ගැටුම් ය. (4) සූක්ෂ්ම ගැටුම් හා සාර්ව ගැටුම් ය.

**35.** පාරිසරික ගැටලු ඇතිවීම සඳහා හේතුවන ප්‍රධානතම සාධකය කුමක් ද?
(1) සම්පත් අධිපාරිභෝජනය (2) මිනිසුන්ගේ නූගත්කම
(3) මිනිසුන්ගේ දුප්පත්කම (4) සම්පත් සීමාසහිතවීම

**36.** පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක ලක්ෂණ දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) විධායක බලය හසුරුවන්නේ ජනාධිපතිවරයා විසිනි.
(2) විධායකය විසින් ව්‍යවස්ථාදායකය තෝරාගනු ලබයි.
(3) ව්‍යවස්ථාදායකය විසින් විධායකය පත් කරගනු ලබයි.
(4) රාජ්‍යයේ නායකයා වන්නේ විධායක ජනාධිපතිවරයා ය.

**37.** රටක සියල්ලට ම ඉහළින් නීතිය පැවතීම හඳුන්වනුයේ,
(1) නීතියේ ආධිපත්‍යය ලෙසිනි. (2) නීතියේ සමානාත්මතාව ලෙසිනි.
(3) නීතියේ යුක්තිය ලෙසිනි. (4) නීතියේ සාධාරණත්වය ලෙසිනි.

**38.** පහත සඳහන් ප්‍රකාශයන්ගෙන් සංස්කෘතිය සම්බන්ධව වඩාත් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) පුද්ගලයා ජීවත්වන සමාජය අනුව සංස්කෘතිය වෙනස් වේ.
(2) පුද්ගල හැසිරීම ජීවත්වන සංස්කෘතියට අනුව සිදුවේ.
(3) ඕනෑම සමාජයකට පිළිගත් පොදු සංස්කෘතියක් ඇත.
(4) සමාජ සංවර්ධනය සඳහා සංස්කෘතිය දායකත්වය සපයයි.

**39.** පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් අධිකරණයේ ස්වාධීනත්වය ඇති කිරීමට ගන්නා ලද ක්‍රියාමාර්ග ඇතුළත් පිළිතුර තෝරන්න.

A - ඉහළ අධිකරණවල විනිශ්චයකාරවරුන් ජනාධිපති විසින් පත් කිරීම
B - නීතිය පිළිබඳ සෑම පුරවැසියකුට ම අවබෝධයක් ලබාදීම
C - විනිශ්චයකරුවන්ගේ වැටුප් ඒකාබද්ධ අරමුදලින් ගෙවීම
D - අධිකරණ සේවා කොමිෂන් සභාවක් පිහිටුවීම
E - මිනිසුන් තුළ අධිකරණය පිළිබඳ ගෞරවයක් ඇති කරවීම

(1) ABD (2) ACD (3) BDE (4) CDE

**40.** 'අ' තීරුවේ රාජ්‍යයක දැකිය හැකි අංග හා 'ආ' තීරුවෙන් එම අංගවලින් ඉටුවන කාර්යයන් දක්වා ඇත. 'අ' තීරුව හා 'ආ' තීරුව නිවැරදිව ගැලපූ විට ලැබෙන පිළිතුර තෝරන්න.

| 'අ' | 'ආ' |
|---|---|
| 1. ව්‍යවස්ථාදායකය | A - නීති ක්‍රියාත්මක කිරීම |
| 2. විධායකය | B - පාලන කටයුතු මෙහෙයවීම |
| 3. අධිකරණය | C - නීති පැනවීම |
| 4. ආණ්ඩු පක්ෂය | D - විකල්ප ආණ්ඩුවක් ලෙස හැසිරීම |
| 5. විරුද්ධ පක්ෂය | E - යුක්තිය පසිඳලීම |

(1) ABCDE (2) ACDBE (3) BCDAE (4) CAEBD

* *

62 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022 (2023)

**පුරවැසි අධ්‍යාපනය I, II**
குடியியற் கல்வி I, II
Civic Education I, II

## පුරවැසි අධ්‍යාපනය II

* **පළමුවන** ප්‍රශ්නය අනිවාර්ය වේ.
* **පළමුවන** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

**1.** (i) නිදහස් හා සාධාරණ මැතිවරණයක ලක්ෂණ **දෙකක්** ලියන්න.

(ii) මධ්‍යම ආණ්ඩුවට හා පළාත් සභා යන ආයතන දෙවර්ගයට ම සමසේ භුක්ති විඳිය හැකි බලතල වර්ග **දෙකක්** ලියන්න.

(iii) බහු සංස්කෘතික සමාජයක පුරවැසියකු වර්ධනය කර ගත යුතු ගුණාංග **දෙකක්** සඳහන් කරන්න.

(iv) වෙළඳාමෙහි දැකිය හැකි ප්‍රධාන කොටස් **දෙක** මොනවා ද?

(v) ගැටුම් ඇතිවන පාර්ශ්ව **දෙකක්** සඳහන් කරන්න.

(vi) ශ්‍රී ලංකාවේ වර්තමාන අධිකරණ පද්ධතියේ ඉහළ ම අධිකරණ ආයතනය හා පහළ ම අධිකරණ ආයතනය දක්වන්න.

(vii) 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ජනාධිපතිවරයා සතු ව්‍යවස්ථාදායක බලතල **දෙකක්** ලියන්න.

(viii) මූලික අයිතිවාසිකම් කඩවීම සම්බන්ධයෙන් පුරවැසියන්ට ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** දක්වන්න.

(ix) දේශගුණික වෙනස්වීම් නිසා ඇතිවන අහිතකර ප්‍රතිඵල **දෙකක්** ලියන්න.

(x) ජාත්‍යන්තර සබඳතා පවත්වා ගැනීමෙන් රටකට ඇතිවන හිතකර ප්‍රතිඵල **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02 × 10 = 20 යි)

**2.** පෘථිවි ගෝලයේ ඉදිරිපැවැත්ම සඳහා නවීකරණයන් හඳුන්වාදීම මෙන් ම පරිසරය ආරක්ෂා කිරීම ද පුරවැසියන්ගේ යුතුකම හා වගකීම වේ.

(i) ශිලා ගෝලයට සිදුව ඇති හානි නිසා ඇතිවන අහිතකර බලපෑම් **දෙකක්** දක්වන්න. (ලකුණු 02 යි)

(ii) පරිසරයේ හා මිනිසාගේ යහපැවැත්ම සඳහා පරිසරයෙන් ලැබෙන සේවාවන් **තුන** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) වනාන්තර හායනය වළක්වා ගැනීමට පුරවැසියකු ලෙස ඔබට ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(*b*) ඉන් එක් ක්‍රියාමාර්ගයක් ක්‍රියාත්මක කරන ආකාරය විස්තර කරන්න. (ලකුණු 03 යි)

**3.** පුද්ගල මනස සංසුන්ව හා නිරවුල්ව තබාගැනීම ගැටුම් ඇති නොවීමට හේතු වේ.

(i) පුද්ගල කණ්ඩායම් අතර ඇති විය හැකි ගැටුම්වලට උදාහරණ **දෙකක්** දක්වන්න. (ලකුණු 02 යි)

(ii) මනසේ සාමය ඇති කර ගැනීම සඳහා අනුගමනය කළ හැකි අංශ **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (*a*) ගැටුම් නිරාකරණය කර ගැනීමට යොදාගන්නා ක්‍රම **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02 යි)

(*b*) ඉන් **එක්** ක්‍රමයක් කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

[හයවැනි පිටුව බලන්න.

**20.** ශ්‍රී ලංකාවේ මහේස්ත්‍රාත් අධිකරණයක් මගින් විසඳිය හැකි නඩු වනුයේ,
(1) මැතිවරණ සම්බන්ධ නඩු ය. (2) ආදායම් සම්බන්ධ නඩු ය.
(3) විවාහ සම්බන්ධ නඩු ය. (4) ඉඩම් සම්බන්ධ නඩු ය.

**21.** ශ්‍රී ලංකාව තුළ බලය බෙදීමේ අරමුණින් 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට සිදුකරන ලද සංශෝධනය කුමක් ද?
(1) 13 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය
(2) 15 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය
(3) 18 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය
(4) 20 වන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනය

**22.** අනාගත පරම්පරාවේ අවශ්‍යතාවලට බාධා නොවන ආකාරයට වර්තමාන අවශ්‍යතා ඉටුකර ගැනීම,
(1) සමාජයීය සංවර්ධනයයි. (2) සදාචාරාත්මක සංවර්ධනයයි.
(3) තිරසර සංවර්ධනයයි. (4) ආර්ථික සංවර්ධනයයි.

**23.** පහත සඳහන් මානව අයිතිවාසිකම් අතුරෙන් සිවිල් හා දේශපාලන අයිතිවාසිකමක් තෝරන්න.
(1) අධ්‍යාපනය ලැබීමට ඇති අයිතිය (2) පෞද්ගලික දේපල දැරීමට ඇති අයිතිය
(3) සමාජ ආරක්ෂණයට ඇති අයිතිය (4) නිදහස් මත දැරීමට ඇති අයිතිය

**24.** ගැටුම් නිරාකරණය සඳහා පුරවැසියකු සතු විය යුතු සමාජයීය ගුණාංගයක් වන්නේ,
(1) දරාගැනීමේ ශක්තියයි. (2) අන්මත ගරු කිරීමයි.
(3) සංවේදී බවයි. (4) අවිහිංසාවයි.

**25.** නූතන රාජ්‍යයන්වල බලය බෙදාහැරීමට හේතුවක් වන්නේ,
(1) ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක බලය ක්‍රියාත්මක කිරීමට ය.
(2) පරිපාලන රෙගුලාසි පහසුවෙන් ක්‍රියාත්මක කිරීමට ය.
(3) ආණ්ඩුව සතු විධායක බලය ක්‍රියාත්මක කිරීමට ය.
(4) රාජ්‍යයේ ජාතික ආරක්ෂාව තහවුරු කර ගැනීමට ය.

**26.** ශ්‍රී ලංකාවට 'රාජ්‍ය මන්ත්‍රණ සභා' පාලන ක්‍රමය හඳුන්වා දුන්නේ,
(1) මැකලම් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.
(2) ඩොනමෝර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.
(3) සෝල්බරි ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.
(4) මැනිං ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගිනි.

**27.** ගැටුම් සාමකාමීව නිරාකරණය කර ගැනීමේ වාසියක් වන්නේ,
(1) ජය පරාජය විඳදරා ගැනීමට හැකිවීමයි. (2) දරා ගැනීමේ ශක්තිය ඇතිවීමයි.
(3) නිර්මාණාත්මක චින්තනය වර්ධනයවීමයි. (4) සම්පත් හා දේපල හානි වැළකීමයි.

**28.** රාජ්‍යයක් තුළ දක්නට ලැබෙන මූලික ලක්ෂණ නිවැරදිව දක්වා ඇති පිළිතුර තෝරන්න.
(1) භූමිය, ජනගහනය, ආණ්ඩුව සහ ජනාධිපති
(2) භූමිය, ජනගහනය, ආණ්ඩුව සහ ස්වාධිපති බලය
(3) භූමිය, ජනගහනය, නීතිය සහ අධිකාරි බලය
(4) භූමිය, ජනගහනය, අධිකාරි බලය සහ ස්වාධිපති බලය

**29.** ආගම්, කුල, උරුම, සිරිත් විරිත්, අයිතිවාසිකම්, යුතුකම් සහ වගකීම් වැනි අංග ඇතුළත් පරිසර සංරචකය,
(1) ස්වභාවික පරිසරය වේ. (2) සංස්කෘතික පරිසරය වේ.
(3) සමාජ පරිසරය වේ. (4) ආගමික පරිසරය වේ.

**30.** රටක සමාජ සාධාරණත්වය බිඳවැටීමට හේතුවක් වන්නේ,
(1) ආර්ථික හා මානව සම්පත් කළමනාකරණය දුර්වලවීමයි.
(2) දේශපාලන බලය ක්‍රියාත්මක වීම දුර්වලවීමයි.
(3) ජාත්‍යන්තර සම්බන්ධතා පැවැත්වීම දුර්වලවීමයි.
(4) ආගමික හා සංස්කෘතික සම්බන්ධතා දුර්වලවීමයි.

**31.** කම්කරු අයිතිවාසිකම් ආරක්ෂා කිරීම සඳහා ශ්‍රී ලංකාවේ සම්මත කරගෙන ඇති පනතක් වන්නේ මින් කුමක් ද?
(1) නිදහස් අධ්‍යාපන පනත (2) සමාජ ආරක්ෂණ පනත
(3) පුද්ගලයන් ලියාපදිංචි කිරීමේ පනත (4) පඩිපාලක සභා ආඥා පනත

[හතරවැනි පිටුව බලන්න.